අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

| | | | |
|---|---|---|---|
| ගෘහ ආර්ථික විද්‍යාව I<br>மனைப் பொருளியல் I<br>Home Economics I | 28 | S | I | පැය දෙකයි<br>இரண்டு மணித்தியாலம்<br>Two hours |

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
* ගණක යන්ත්‍ර භාවිතයට ඉඩ දෙනු **නොලැබේ.**
* උත්තර පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
* **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (X) **යොදා දක්වන්න.**

**1.** නිවසක් ඉදිකිරීම සඳහා ඉදිරිපත් කරන ලද නිල් පිටපත අනුමත නොවී ය. මීට හේතු විය හැකි කරුණ වනුයේ,
(1) බිත්තිවල උස අඩි 9 1/2 ක් වීම ය.
(2) දොර සඳහා කාමරයක වර්ග ප්‍රමාණයෙන් 1/15 ක් තිබීම ය.
(3) මායිම් බිත්තිය, කාමරයක බිත්තියක් ලෙස යොදා තිබීම ය.
(4) ප්‍රධාන නිදන කාමරය වර්ග අඩි 100ක් වීම ය.
(5) කාමරයක වර්ග ප්‍රමාණයෙන් 1/7 ක් ජනේල සඳහා වෙන් කර තිබීම ය.

**2.** නිවසක මුළුතැන්ගෙයක් සැලසුම් කිරීම, සංවිධානය කිරීම හා සම්බන්ධ **සාවද්‍ය** ප්‍රකාශය මින් කුමක් ද?
(1) මුළුතැන්ගෙයට දොර දෙකක් යොදා තිබුණි.
(2) ඇතුළු වන දොරට වම් පසින් ශීතකරණය තබා ඇත.
(3) සේදුම් බක්කියෙහි ඇතුළත පෘෂ්ඨය පිඟන් ගඩොලින් නිම කර ඇත.
(4) සිවිලිමෙහි මැදට විදුලි බල්බයක් සවි කර තිබුණි.
(5) සේදුම් බක්කිය යට ගෑස් සිලින්ඩරය ස්ථානගත කර තිබුණි.

**3.** විසිත්ත කාමරයක් සංවිධානයේ දී හා අලංකරණයේ දී ගෙන ඇති පියවර පහත රූපසටහනින් දැක්වේ.




මින් රිද්මය පිළිබිඹු වනුයේ,
(1) **A** වලිනි.
(2) **C** වලිනි.
(3) **A** හා **E** වලිනි.
(4) **B** හා **D** වලිනි.
(5) **D** හා **E** වලිනි.

**4.** වර්ණවල ගුණාංගයක් වන 'තීව්‍රතාවය' යනු වර්ණයක
(1) ලා බව, තද බව ය.
(2) උණුසුම් බව, සිසිල් බව ය.
(3) දීප්තිමත් බව, අඳුරු බව ය.
(4) මෘදු බව, දැඩි බව ය.
(5) ඉදිරියට එන බව, පසු බසින බව ය.

[දෙවැනි පිටුව බලන්න.

**5.** අනුපූරක වර්ණ ගැළපුමකට උදාහරණයකි,
(1) කහ තැඹිලි, නිල් දම්.
(2) නිල් කොළ, රතු දම්.
(3) කහ කොළ, නිල් දම්.
(4) කහ තැඹිලි, රතු දම්.
(5) රතු තැඹිලි, කහ කොළ.

**6.** ගෘහීය සම්පත් ප්‍රධාන වශයෙන් වර්ග කර ඇත්තේ,
(1) භෞතික හා භෞතික නො වන සම්පත් ලෙස ය.
(2) මානව හා භෞතික සම්පත් ලෙස ය.
(3) මානව හා මානව නො වන සම්පත් ලෙස ය.
(4) භෞතික හා මානව නොවන සම්පත් ලෙස ය.
(5) මානව හා භෞතික නො වන සම්පත් ලෙස ය.

**7.** විදුලි ඉස්ත්‍රික්කයක ද්විලෝහ දණ්ඩ,
(1) සනකම් රෙදි මැදීම පහසු කරයි.
(2) ඉස්ත්‍රික්කයෙහි තාප පාලනයට හේතු වේ.
(3) ඉස්ත්‍රික්කය තුළ තාප සන්නයනයෙහි කාර්යක්ෂමතාව වැඩි කරයි.
(4) විදුලිය ඇනහිටි අවස්ථාවල දී තාපය සංරක්ෂණය කරයි.
(5) ඉස්ත්‍රික්කය භූගත කිරීම සඳහා යොදා ගනියි.

**8.** ජෛව අගයෙන් අඩු ප්‍රෝටීනයකි
(1) ඉලාස්ටින්.
(2) කොලැජන්.
(3) ජෙලටින්.
(4) ඇල්බියුමින්.
(5) මයොසින්.

**9.** මේද හයිඩ්‍රජනීකරණය ක්‍රියාවලිය මගින්,
(1) අත්‍යවශ්‍ය මේද අම්ල ප්‍රමාණය වැඩි වේ.
(2) ද්විත්ව බන්ධන සංඛ්‍යාව වැඩි වේ.
(3) මුඩු වීම සිදු වේ.
(4) ඝන මේද, ද්‍රව තත්ත්වයට පත් වේ.
(5) අසංතෘප්ත මේද සංතෘප්ත බවට පත් වේ.

**10.** මිනිස් සිරුරේ අඩංගු මේද ප්‍රතිශතය
(1) ගැහැනු ළමයින්ට වඩා පිරිමි ළමයින්ගේ වැඩි ය.
(2) වැඩිහිටි වියේ දී ක්‍රමයෙන් අඩු වේ.
(3) පිරිමින්ට වඩා කාන්තාවන්ගේ වැඩි ය.
(4) අසාත්මිකතා ඇති පුද්ගලයින්ගේ අඩු ය.
(5) ළදරු අවධියේ දී වැඩි ය.

**11.** සිරුරේ කොලෙස්ටරෝල්වල කෘත්‍යයක් **නො වනුයේ** මින් කුමක් ද?
(1) එන්සයිම නිපදවීම
(2) හෝමෝන නිපදවීම
(3) ස්නායු සෛල ආරක්ෂා කිරීම
(4) පිත් යුෂය නිපදවීම
(5) විටමින් D නිෂ්පාදනය

**12.** සිරුර තුළ කැල්සියම්වලින් ඉටු වන කෘත්‍යයක් වන්නේ,
(1) ජල තුලනය පාලනය කිරීමයි.
(2) ඔක්සිජන් පරිවහනයයි.
(3) ප්‍රතිශක්තිය ලබා දීමයි.
(4) ලේ කැටි ගැසීමයි.
(5) පේශි පටක නිපදවීමයි.

**13.** B කාණ්ඩයේ විටමින් වර්ගයක් වන $B_6$ ලෙස හැඳින්වෙනුයේ,
(1) බයොටින් ය.
(2) ෆෝලික් අම්ලය ය.
(3) තයමින් ය.
(4) නයසින් ය.
(5) පිරිඩොක්සීන් ය.

**14.** අයඩීන් ඌනතාව නිසා ඇති **නො වන** තත්ත්වයකි,
(1) කීලෝසියාව.
(2) මන්ද බුද්ධිකතාව.
(3) ක්‍රෙටීනතාව.
(4) ගලගණ්ඩය.
(5) මන්ද මානසිකතාව.

**15.** ශරීර වර්ධනය හා නඩත්තුව, සමෙහි නිරෝගිතාව පවත්වා ගැනීම සහ ශ්ලේෂ්මල පටකවල පැවැත්ම යන කෘත්‍ය හා සම්බන්ධ විටමින් වර්ගය වනුයේ,
(1) විටමින් A ය.
(2) විටමින් $B_1$ ය.
(3) විටමින් $B_2$ ය.
(4) විටමින් C ය.
(5) විටමින් D ය.

[තුන්වැනි පිටුව බලන්න.

**26.** චයිනීස් රෝල් හා සම්බන්ධ ව සිසුන් විසින් ලියන ලද සටහනකින් උපුටාගත් කරුණු කිහිපයක් පහත දක්වා ඇත.
A - පිසීමේ දී සන්නයනය හා සංවහනය මගින් තාපය සංක්‍රාමණය වේ.
B - දැවටුම් ලෙස පිටි මිශ්‍රණය සහ විස්කෝතු කුඩු භාවිත කරයි.
C - පේස්ට්‍රි කාණ්ඩයට අයත් ආහාරයකි.
D - පිසීමේ දී නොගැඹුරු තෙලෙහි බැදීම සහ ගැඹුරු තෙලෙහි බැදීම සිදු කරයි.
E - මනා ඔපයක් ලබා දීම සඳහා බිත්තර කහමදය ආලේප කරයි.
ඉහත කරුණු අතුරෙන් නිවැරදි වනුයේ,
(1) A, B හා C ය. (2) A, B හා D ය. (3) A, C හා D ය. (4) B, C හා D ය. (5) C, D හා E ය.

**27.** පුද්ගලයකුගේ උස හා බර පිළිවෙළින් සෙන්ටිමීටර 155 ක් හා කිලෝග්‍රෑම් 55ක් වේ. ඔහුගේ ශරීර ස්කන්ධ දර්ශකයෙහි අගය වනුයේ,
(1) 18.9 කි. (2) 20.3 කි. (3) 22.9 කි. (4) 26.1 කි. (5) 30.2 කි.

**28.** පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් ආහාරමය තන්තු හා සම්බන්ධ **නො වන** ප්‍රකාශය කුමක් ද?
(1) සිරුර තුළ යකඩ අවශෝෂණය වැඩි කරයි.
(2) ආහාරය ගත් පසු සෑහීමට පත්වූ හැඟීමක් ඇති කරයි.
(3) අන්ත්‍ර තුළ මල මගින් ජලය අවශෝෂණය වීම වැඩි කරයි.
(4) සිරුර තුළ ග්ලූකෝස් අවශෝෂණයට බාධා කරයි.
(5) අන්ත්‍ර තුළ ක්‍රමාකුංචනය වේගවත් කරයි.

**29.** පහත දක්වා ඇත්තේ බෝ නො වන රෝග සඳහා ආහාර පාලනය කිරීමේ දී සලකා බැලිය යුතු කරුණු කිහිපයකි.
A - ගැඹුරු මුහුදේ මාලු ආහාරයට එක් කිරීම නිර්දේශ කර ඇත.
B - බැදීමට ගත් තෙල් නැවත නැවත භාවිතය යෝග්‍ය නොවේ.
C - පේස්ට්‍රි, පීසා වැනි බේකරි නිෂ්පාදිත සුදුසු නැත.
D - ලුණු අඩුවෙන් ගැනීම යෝග්‍ය වේ.
මෙම කරුණු **වඩාත් ම** ගැළපෙනුයේ,
(1) ස්ථුලතාවට ය. (2) දියවැඩියාවට ය. (3) ආමාශයික ප්‍රදාහයට ය.
(4) අධිබර තත්ත්වයට ය. (5) හෘද රෝගවලට ය.

**30.** ඔලික් අම්ලය,
(1) ඔමේගා - 6 - මේද අම්ලයකි. (2) ඔමේගා - 3 - මේද අම්ලයකි. (3) සංතෘප්ත මේද අම්ලයකි.
(4) ඒක අසංතෘප්ත මේද අම්ලයකි. (5) බහු අසංතෘප්ත මේද අම්ලයකි.

**31.** ශ්‍රී ලංකාවේ ත්‍රිපෝෂ වැඩසටහන ක්‍රියාත්මක කර ඇති ඉලක්ක කණ්ඩායම් දෙකක් වන්නේ,
(1) ගර්භිණී මව්වරුන් සහ පසු ළමාවියේ දරුවන් ය.
(2) ක්ෂීරණ මව්වරුන් සහ වැඩිහිටි කාන්තාවන් ය.
(3) දිගුකාලීන රෝගීන් සහ ගර්භිණී මව්වරුන් ය.
(4) ළදරුවන් සහ මහලුවියේ පසුවන්නන් ය.
(5) මුල් ළමාවිය දරුවන් සහ ක්ෂීරණ මව්වරුන් ය.

**32.** ක්ෂුද්‍රජීවී විශේෂ කිහිපයක් පහත දැක්වේ.
A - එස්චෙරිෂියා කෝලයි
B - ස්ට්‍රෙප්ටොකොකස් ලැක්ටිස්
C - ක්ලොස්ට්‍රීඩියම් බොටියුලිනම්
D - ඇසිටොබැක්ටර් ඇසිටයි
E - හෙලිකොබැක්ටර් පයිලෝරා
මේවායින් ආහාර සැකසීම සඳහා ප්‍රයෝජනවත් වනුයේ,
(1) A හා B ය. (2) B හා D ය. (3) B, C හා D ය. (4) C, D හා E ය. (5) D හා E ය.

**33.** කරවල සෑදීමේ දී,
(1) අධික තාපයක් යොදා ගනියි.
(2) අඩංගු ජලය සම්පූර්ණයෙන් ම ඉවත් වේ.
(3) සිදු වන පෝෂක හානිය වැඩි ය.
(4) බාහිරාසූතිය සිදු වේ.
(5) ආවේණික ගුණාත්මක ලක්ෂණ ආරක්ෂා වේ.

16. කිරි සහ සෝයාබෝංචි පිළිබඳ ව සිසුවියක් විසින් ලියන ලද සටහනක සඳහන් වූ කරුණු කිහිපයක් පහත දැක්වේ.
A - සෝයාබෝංචිවල සම්පූර්ණ ප්‍රෝටීන් අඩංගු ය.
B - කිරිවල කාබොහයිඩ්‍රේට් අඩංගු ය.
C - ටෙම්පේ සහ ටෝෆු සෝයා නිෂ්පාදන දෙකකි.
D - කිරිවල යකඩ හා විටමින් C අඩු ය.
E - සෝයාබෝංචිවල මේද සහ විටමින් A අඩු ය.
ඉහත කරුණු අතුරෙන් නිවැරදි වනුයේ,
(1) A හා E ය. (2) A, B හා C ය. (3) B, C හා D ය. (4) C හා E ය. (5) C, D හා E ය.

17. විටමින් C හි ඌනතා ලක්ෂණයක් වන්නේ,
(1) මුඛය වණවීම ය. (2) තුවාල සුවවීම පමාවීම ය.
(3) පාචනය ය. (4) දෘෂ්ටිය අපැහැදිලි වීම ය.
(5) පාද හිරිවැටීම ය.

18. විටමින් C සහ E හා සම්බන්ධ ප්‍රකාශය මින් කුමක් ද?
(1) තාපයට ස්ථායි නො වේ. (2) ප්‍රතිඔක්සිකාරක ලෙස ක්‍රියා කරයි.
(3) මේද ද්‍රාව්‍ය ය. (4) සත්ත්වමය ආහාරවල බහුල ය.
(5) සිරුර තුළ නිපදවා ගනී.

19. නිර්දේශිත දෛනික පෝෂණ අවශ්‍යතා සටහනෙහි (2007), අවශ්‍යතාව මිලි ග්‍රෑම්වලින් දක්වා ඇති පෝෂක දෙකකි
(1) බයොටින් සහ නයසින්. (2) විටමින් C සහ ෆෝලික් අම්ලය.
(3) කැල්සියම් සහ යකඩ. (4) මැග්නීසියම් සහ විටමින් A.
(5) තයමින් සහ විටමින් $B_{12}$.

20. කැරොටිනොයිඩ් වර්ගයක් වන ලයිකොපීන් අඩංගු වන ආහාර ප්‍රභවයකි
(1) වට්ටක්කා. (2) කැරට්. (3) පැපොල්. (4) තක්කාලි. (5) බීට්.

21. ආහාර හා පෝෂණය සම්බන්ධ ව සිසුන් ඉදිරිපත් කළ පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශය මින් කුමක් ද?
(1) ඔක්සැලික් අම්ලය සිරුරේ කැල්සියම් අවශෝෂණය වේගවත් කරයි.
(2) මේද සංයුතියෙහි හයිඩ්‍රජන් සහ ඔක්සිජන් අතර අනුපාතය 2 : 1 කි.
(3) ෆෝලික් අම්ලය සහ නයසින් ඌනවීම නිරක්තය ඇති වීමට හේතු වේ.
(4) වියළි තාපයෙන් පිසීමේ දී ප්‍රෝටීන් තන්තු තද බවට පත් වේ.
(5) සුක්‍රෝස් ද්‍රාවණයට ෆේලින්ග් A සහ B එකතු කර රත් කිරීමේ දී රතු පැහැති අවක්ෂේපයක් සෑදේ.

22. විටමින් $B_{12}$ බහුල ව අඩංගු වන ආහාර ප්‍රභව දෙකකි
(1) සහල් සහ කිරි. (2) ගොටුකොළ සහ තිරිඟු.
(3) මාලු සහ මස්. (4) දෙහි සහ බිත්තර.
(5) පීකුදු සහ සෝයාබෝංචි.

23. ආහාරවල අඩංගු ප්‍රෝටීන් මත ක්‍රියාකරන එන්සයිම තුනකි
(1) ලැක්ටේස්, පෙප්සින් හා රෙනින්. (2) සුක්රේස්, ඇමයිලේස් හා ලයිපේස්.
(3) රෙනින්, ලයිපේස් හා ඇමයිලේස්. (4) මෝල්ටේස්, ට්‍රිප්සින් හා පෙප්ටිඩේස්.
(5) පෙප්ටිඩේස්, ට්‍රිප්සින් හා පෙප්සින්.

24. කාබොහයිඩ්‍රේට් පරිවෘත්තියෙහි ග්ලයිකොලිසිය අවසානයේ දී ග්ලූකෝස් පත්වනුයේ,
(1) ෆෘක්ටෝස් බවට ය. (2) ඇසිටික් අම්ලය බවට ය. (3) පයිරුවික් අම්ලය බවට ය.
(4) ග්ලයිකොජන් බවට ය. (5) ඇසිටයිල් සහඑන්සයිම A බවට ය.

25. පිටි සහ මේද, විස්කෝතු කුඩු ආකාරයට පත් වන තෙක් මිශ්‍ර කරනු ලබන්නේ මින් කුමන පේස්ට්‍රි ආහාර වර්ග දෙක සෑදීමේ දී ද?
(1) ඉක්ලෙයාර්ස් සහ පේස්ට්‍රි බාස්කට් (2) ක්‍රීම් බන්ස් සහ පැටිස්
(3) පැටිස් සහ ඉක්ලෙයාර්ස් (4) පැටිස් සහ පේස්ට්‍රි බාස්කට්
(5) පේස්ට්‍රි බාස්කට් සහ ක්‍රීම් බන්ස්




[ හතරවැනි පිටුව බලන්න.

**34.** ආහාර පරිරක්ෂණයේ දී භාවිත වන කාබනික ලවණයකි,

(1) සෝඩියම් නයිට්‍රයිට්. (2) සෝඩියම් බයිසල්ෆයිට්.
(3) සෝඩියම් ක්ලෝරයිඩ්. (4) සෝඩියම් මෙටාබයිසල්ෆයිට්.
(5) සෝඩියම් බෙන්සොඒට්.

**35.** ළමා සංවර්ධනය හා සම්බන්ධ ව සිසුන් විසින් ඉදිරිපත් කරන ලද ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ. මින් නිවැරදි ප්‍රකාශය කුමක් ද?

(1) සමනිවුන් දරුවන් ඇතිවනුයේ පරිණත ඩිම්බයක් ශුක්‍රාණු දෙකක් සමග සංසේචනය වීමෙනි.
(2) පෝලියෝ එන්නතෙහි පළමුවන මාත්‍රාව දෙනු ලබන්නේ ළදරුවා වයස මාස දෙකක් ඉක්ම වූ පසු ය.
(3) ළදරු අවධියේ දී චාලක වර්ධනය සඳහා පුහුණුව වැදගත් වේ.
(4) වමත්හුරුව මුල් ළමාවිය දරුවන් පිළිබිඹු කරන ගැටලුමය චර්යාවකි.
(5) වයස අවුරුදු 14 ට අඩු දරුවන් මෙහෙකාර සේවයෙහි යෙදවීම අපචාරී ක්‍රියාවකි.

**36.** මින් පූර්ව ප්‍රසව සංවර්ධනය හා සම්බන්ධ නිවැරදි ප්‍රකාශය වනුයේ,

(1) ඩිම්බ මෝචනයෙන් පසු සති දෙකක් තුළ සංසේචනය සිදුවිය හැකි ය.
(2) කලලබන්ධය හා ඩිම්බ කෝෂ මගින් ස්ත්‍රී ප්‍රජනක හෝමෝන ස්‍රාවය කරයි.
(3) මව දියවැඩියා රෝගයෙන් පෙළීම භ්‍රෑණයේ බර අඩුවීමට හේතු වේ.
(4) මාස 4 සිට උපත දක්වා කාලසීමාව භ්‍රෑණ අවධිය ලෙස හැඳින්වේ.
(5) ගර්භිණී අවධිය තුළ මවගේ අපේක්ෂිත බර වැඩිවීම කිලෝග්‍රෑම් 6-8 දක්වා වේ.

**37.** මව්කිරි නිෂ්පාදනය හා ස්‍රාවය කිරීම උත්තේජනය කරන හෝමෝන වනුයේ,

(1) ඊස්ට්‍රජන් සහ ඔක්සිටොසින් ය. (2) ප්‍රොලැක්ටින් සහ ප්‍රොජෙස්ටරෝන් ය.
(3) ප්‍රොලැක්ටින් සහ ඊස්ට්‍රජන් ය. (4) ඔක්සිටොසින් සහ ප්‍රොලැක්ටින් ය.
(5) ප්‍රොජෙස්ටරෝන් සහ ඔක්සිටොසින් ය.

**38.** ජාතික ප්‍රතිශක්තිකරණ වැඩසටහන යටතේ දරුවකුට මාස හයක් වන විට දෙනු ලබන එන්නත් මගින් වළක්වන රෝග දෙකකි

(1) පිටගැස්ම සහ කම්මුල්ගාය. (2) පෝලියෝ සහ රුබෙල්ලා.
(3) රුබෙල්ලා සහ සරම්ප. (4) හෙපටයිටිස් B සහ කම්මුල්ගාය.
(5) පිටගැස්ම සහ කක්කල් කැස්ස.

**39.** පසු ළමාවියෙහි දරුවකු පිළිබඳ **සාවද්‍ය** ප්‍රකාශය වනුයේ,

(1) අන්‍යයන් සමග මිත්‍රශීලී ව හැසිරීම ය.
(2) විවිධ කරුණු පිළිබඳ ව කුතුහලය පෙන්වීම ය.
(3) කෝපාවේගය කායිකව පිළිබිඹු කිරීම ය.
(4) අන්‍යයන් කෙරෙහි ඊර්ෂ්‍යාකාරී බව දැක්වීම ය.
(5) නිතර ම ක්‍රියාශීලී බවින් යුක්ත වීම ය.

**40.** ගැළපෙන චිත්‍ර යා කිරීමේ ක්‍රියාකාරකම තුළින් මුල් ළමාවිය දරුවන්ගේ

(1) නිර්මාණාත්මක හැකියා වර්ධනය කරයි. (2) අදහස් ප්‍රකාශනයට අවස්ථා සැලසේ.
(3) ඇස අත සමායෝජනය වැඩි දියුණු කරයි. (4) වාග්මාලාව දියුණු කරයි.
(5) චිත්‍ර ඇඳීමට ඇති උනන්දුව වැඩි කරයි.

**41.** දරුවකුගේ දළ චාලක (විශාල මාංශ පේශී) වර්ධනයට රුකුලක් වන ක්‍රියාකාරකමකි

(1) බෝතලයකට වතුර පිරවීම. (2) නර්තනයෙහි යෙදීම.
(3) ක්‍රීඩා භාණ්ඩයක් නිර්මාණය කිරීම. (4) කෘත්‍රිම මැටිවලින් ඇඹීම.
(5) දෙන ලද රූපයක් තුළ කොළ කැබලි ඇලවීම.

**42.** මින් දරුවාගේ භාෂික වර්ධනය කෙරෙහි බලපෑමක් ඇති **නො කරන** සාධකය කුමක් ද?

(1) ආවේණිය. (2) ස්ත්‍රී පුරුෂ භාවය. (3) හෝමෝන.
(4) පිළිගැනීම. (5) නිතර රෝගී වීම.

**43.** විස්කෝස් රෙයෝන් කෙඳිවල ප්‍රධාන වශයෙන් අඩංගු වනුයේ,

(1) කෙරටින් ය. (2) සෙලියුලෝස් ය. (3) සෙරිසින් ය.
(4) ලිග්නින් ය. (5) ෆයිබ්‍රොයින් ය.

**44.**



A



B

ඉහත A සහ B යන රූපසටහන්වලින් දැක්වෙනුයේ පිළිවෙළින්,

(1) ගැට පිස්මේන්තුව සහ මැසි මැස්මයි.
(2) හුරුළු කටු මැස්ම සහ පිහාටු මැස්මයි.
(3) මැසි මැස්ම සහ හුරුළු කටු මැස්මයි.
(4) ගැට පිස්මේන්තුව සහ පිහාටු මැස්මයි.
(5) හුරුළු කටු මැස්ම සහ ගැට පිස්මේන්තුවයි.

**45.** මැසීමේ ශිල්පීය ක්‍රම යොදා ගනු ලබන අවස්ථා දෙකක් වන්නේ,

(1) කමිස විවරය මසා නිම කිරීම සහ ඇඳුමක වාටිය මැසීම ය.
(2) සාරි හැට්ටයේ අත අග මැසීම සහ එහි කර මැසීම ය.
(3) කමිසයේ ඉම්කඩ ඇල්ලීම සහ සාරි හැට්ටයේ අත අග මැසීම ය.
(4) කමිස අත අග මැසීම සහ එහි සාක්කුව ඇල්ලීම ය.
(5) සාරි හැට්ටයේ කර මැසීම සහ කමිස විවරය මසා නිම කිරීම ය.

**46.** පහත දැක්වෙන වැකි අතුරෙන් නිවැරදි වනුයේ කුමක් ද?

(1) නයිලෝන් රෙදිවලට කෘමීන්ගෙන් සහ සලබයින්ගෙන් හානි සිදු වේ.
(2) විකර්ණාකාර පටියක් තබා, කර හැඩය මැසීම හැඩපෝරුවක් යෙදීම ලෙස හැඳින්වේ.
(3) ඇඳුම් නිර්මාණයට පෙර සෑම රෙදි වර්ගයක් ම පිරියම් කළ යුතු ය.
(4) ගෑස් කිරීම මගින් රෙදිපිළිවල මතුපිට පෘෂ්ඨය සුමට කරයි.
(5) ස්ටැනස් ක්ලෝරයිඩ් හා කාබන් ටෙට්රා ක්ලෝරයිඩ් නිර්ජල සේදීමේ කාරක ලෙස භාවිත වේ.

**47.** රෙදිවල ඇතිවන පැල්ලම් ඉවත් කිරීම සඳහා යොදා ගන්නා ද්‍රාවකයක් හා විරංජකයක් වනුයේ පිළිවෙළින්,

(1) විනාකිරි සහ ජැවල් වතුර ය.
(2) හයිඩ්‍රජන් පෙරොක්සයිඩ් සහ භූමිතෙල් ය.
(3) ජැවල් වතුර සහ දෙහි යුෂ ය.
(4) රටහුනු සහ හයිඩ්‍රජන් පෙරොක්සයිඩ් ය.
(5) විනාකිරි සහ මෙතිලේටඩ් ස්ප්‍රීතු ය.

**48.** පහත දැක්වෙන්නේ සිසු සටහනකින් උපුටාගත් වැකි කිහිපයකි.

A - සාරි හැට්ටය මැසීමේ දී පිටුපස කර සහ ඉදිරිපස කර මසා, උරහිස මූට්ටු කළ යුතු ය.
B - දික්දාර වියමනේ දී දික් අතට සනකම් නූලක් ද හරස් අතට සිහින් නූලක් ද යොදා වියනු ලැබේ.
C - ආර මැසීමේ දී ආර අග සිට මුදුන දක්වා මැසීම කළ යුතු ය.
D - කමිස විවරය පියවීම සඳහා සිරස් බොත්තම් කාස භාවිත කරයි.
E - ආරෝපණ යෙදීමේ දී මෝස්තර අද්දර නිම කිරීමට භාවිත කළ යුතු වන්නේ බ්ලැන්කට් මැස්ම පමණි.

මින් නිවැරදි වැකි වනුයේ,

(1) A හා B ය. (2) A හා E ය. (3) B හා C ය. (4) C හා D ය. (5) D හා E ය.

**49.** රෙදිපිළි තාක්ෂණය හා සම්බන්ධ ව සිසුන් විසින් කරන ලද ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.

A - සේද කෙඳිවල අපද්‍රව්‍ය ඉවත් කිරීම කාබනීකරණය මගින් සිදු කරයි.
B - බඳනයක් යෙදීම සඳහා රෙද්දෙහි බලවාටියට සමාන්තර ව කපාගත් පටියක් වඩාත් සුදුසු වේ.
C - රෙදිපිළි ක්‍රේප් කිරීම යාන්ත්‍රික ක්‍රම මෙන් ම රසායනික ක්‍රම මගින් ද සිදු කෙරේ.
D - රෙදිවලට යොදන ඩයිවර්ග අවශෝෂණය කර ගැනීම සඳහා රංගස්ථාපක භාවිත කරයි.
E - රෙදිපිළි පවිත්‍ර කිරීම සඳහා භාවිත වන සබන්වල අඩු ක්ෂාර ප්‍රමාණයක් අඩංගු වේ.

මින් නිරවද්‍ය ප්‍රකාශ වනුයේ,

(1) A හා B ය. (2) A හා C ය. (3) A, B හා E ය. (4) C හා D ය. (5) C, D හා E ය.

**50.** කඩදාසි පිළිස්සෙන ගඳක් නිකුත් වන්නේ මින් කවර කෙඳි වර්ග පිළිස්සීමේ දී ද?

(1) කපු කෙඳි සහ සේද කෙඳි
(2) සේද කෙඳි සහ රෙයෝන් කෙඳි
(3) ලිනන් කෙඳි සහ නයිලෝන් කෙඳි
(4) නයිලෝන් කෙඳි සහ සේද කෙඳි
(5) ලිනන් කෙඳි සහ රෙයෝන් කෙඳි

***

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

| | | |
|---|---|---|
| ගෘහ ආර්ථික විද්‍යාව II<br>மனைப் பொருளியல் II<br>Home Economics II | 28 S II | පැය තුනයි<br>மூன்று மணித்தியாலம்<br>Three hours |

**උපදෙස්:**

※ **I** කොටසින් **පළමුවන** ප්‍රශ්නය ඇතුළු ව ප්‍රශ්න **තුනකට** ද **II** කොටසින් **පස්වන** ප්‍රශ්නය ඇතුළු ව ප්‍රශ්න **හතරකට** ද පිළිතුරු සපයන්න.

## I කොටස

(**පළමුවන** ප්‍රශ්නය සහ තවත් ප්‍රශ්න **දෙකක්** ද ඇතුළු ව ප්‍රශ්න **තුනකට** පිළිතුරු සපයන්න.)

**1.** පහත දැක්වෙන්නේ ගම්බද පරිසරයක, ඉඩකඩ සහිත ගෙවත්තක පිහිටි නිවසක දළ බිම් සැලැස්මකි. මෙම සැලැස්මෙන් දැක්වෙන නිවසෙහි, ප්‍රාථමික පාසල් වියේ පසුවන පිරිමි දරුවන් දෙදෙනෙකුගෙන් සහ ගැහැණු දරුවකුගෙන් සමන්විත පස්දෙනෙකුගෙන් යුත් පවුලක් වාසය කරයි. මෑතකදී ඔවුනට ජලනල හා විදුලිබල පහසුකම් ද ලැබී ඇති බැවින් දෙමව්පියෝ නිවස අළුත්වැඩියා කිරීමට අදහස් කරති.




A - ආලින්දය හා විසිත්ත කාමරය
B - කෑම කාමරය
C - මුළුතැන්ගෙය
D - නිදන කාමරය
E - නිදන කාමරය
F - ගමන් මඟ
G - වැසිකිළිය

(i) මෙම පවුලේ අවශ්‍යතා සැලකිල්ලට ගනිමින් වඩාත් සුවපහසු ජීවිතයක් ගත කිරීමට හැකි වන ලෙස සැලසුමෙහි වෙනස්කම් **දෙකක්** කළ හැකි ආකාර පැහැදිලි කරන්න.

(ii) දී ඇති බිම් සැලසුමේ 'D' හි ගෘහභාණ්ඩ ස්ථානගත කරන අයුරු රූපසටහනක් ඇසුරෙන් දක්වන්න.

(iii) මෙම නිවසෙහි,

(a) විසිත්ත කාමරයෙහි මුල්ලකට

(b) කෑම මේසයෙහි මැදට

මල් සැකසුම් කිරීමේ දී අවධාරණය කළ යුතු කරුණු කවරේ ද?

(iv) නිවසෙහි නිදන කාමරයක තිරරෙදි අලංකරණය සඳහා ආරෝපණය කිරීමට සුදුසු මෝස්තරයක් අඳින්න. ඒ සඳහා යොදන වර්ණ සංයෝජනය ඉදිරිපත් කරන්න.

(v) මෙම තිරරෙදි අද්දරට රැලි පටියක් අල්ලා නිම කිරීමේ දී අනුගමනය කළ යුතු පියවර පැහැදිලි කරන්න.

[ දෙවැනි පිටුව බලන්න.

**2.** (i) රෙදි නිෂ්පාදනය සඳහා කපු කෙඳි සැකසීමේ ක්‍රියාවලිය පහදන්න.

(ii) (*a*) ජලයෙහි
- තාවකාලික කඨිනත්වය
- ස්ථිර කඨිනත්වය

ඇතිවීමට හේතු දක්වන්න.

(*b*) ජලයෙහි තාවකාලික කඨිනත්වය හා ස්ථිර කඨිනත්වය ඉවත් කර ගන්නා අයුරු විස්තර කරන්න.

(iii) රෙදිපිළි පවිත්‍ර කිරීමේ දී,

(*a*) සබන්

(*b*) පෘෂ්ඨීක ආතතිය

(*c*) ඝර්ෂණය

ඉවහල් වන අයුරු පැහැදිලි කරන්න.

(iv) (*a*) මසරීකරණය/කැලැන්ඩරීකරණය මගින් කෙඳිවල/රෙදිවල වැඩි දියුණු වන ගුණාංග **දෙකක්** ලියන්න.

(*b*) මසරීකරණ/කැලැන්ඩරීකරණ ක්‍රියාවලිය විස්තර කරන්න.

**3.** (i) නව යුවළක් එක් නිදන කාමරයකින් යුත් ඇනෙක්සියක් (උපගෘහයක්) පදිංචිය සඳහා තෝරාගෙන ඇත. මෙම නිවසට ගෘහභාණ්ඩ තෝරා ගැනීමේ දී ඔවුන් විසින් සැලකිලිමත් විය යුතු කරුණු පැහැදිලි කරන්න.

(ii) ඒක වර්ණ ගැළපුමක් භාවිතයෙන් ළදරු කාමරයක් අලංකාර කර ගත හැකි අයුරු විස්තර කරන්න.

(iii) (*a*) ගෘහීය විද්‍යුත් පරිපථයක කොටස් නම් කරන්න. ඒ එක් එක් කොටසින් ඉටු කෙරෙන කාර්ය දක්වන්න.

(*b*) විද්‍යුත් උපකරණ භාවිතයේ දී අනුගමනය කළ යුතු ආරක්ෂක පූර්වෝපාය විස්තර කරන්න.

**4.** (i) අපද්‍රව්‍ය කළමනාකරණය වර්තමානයේ ගැටලුවක් බවට පත් වී ඇත. මෙම ගැටලුව අවම කර ගැනීම සඳහා ගෘහීය මට්ටමින් ගත යුතු ක්‍රියාමාර්ග සාකච්ඡා කරන්න.

(ii) විදුලියෙන් ක්‍රියාකරන ආහාර මිශ්‍රකයක

(*a*) ක්‍රියාකාරිත්වය

(*b*) නඩත්තුව

පැහැදිලි කරන්න.

(iii) (*a*) යෞවනියකගේ ඇඳුම් නිර්මාණය සඳහා කඳෙහි මූලික පතරොම සකස් කිරීමට අවශ්‍ය මිනුම් නම් කරන්න.

(*b*) කඳෙහි ඉදිරිපස මූලික පතරොම නිර්මාණය කිරීම සඳහා අවශ්‍ය වන මිනුම් **තුනක්** ගණනය කර දක්වන්න.

(*c*) සාරි හැට්ටයක අත, කඳ කොටසට සවි කරන අයුරු අනුපිළිවෙළින් ලියන්න.

## II කොටස

(**පස්වන** ප්‍රශ්නය සහ තවත් ප්‍රශ්න **තුනක්** ද ඇතුළු ව ප්‍රශ්න **හතරකට** පිළිතුරු සපයන්න.)

**5.** මුල් ළමාවිය සංවර්ධන මධ්‍යස්ථානයකට යන විදුර පවුලේ වැඩිමහල් දරුවා වන අතර මනා පෝෂණ තත්ත්වයකින් ද පසුවන්නෙකි. ඔහු සමවයස් දරුවන් සමඟ මිත්‍රශීලී බවක් නොපෙන්වයි. පන්ති කාමරය තුළ ආවේග ශීලී හැසිරීම් රටා ද පිළිබිඹු කරයි. විදුරට මාස පහක් වයසැති සහෝදරයෙක් ද වේ. දෙමව්පියන් රැකියාවල නියැලෙන බැවින්, දරුවන් රැකබලා ගැනීම සඳහා මිත්තනිය ද ඔවුන් සමඟ ජීවත් වේ. තම පවුලේ ආහාර වේල් සැලසුම් කිරීම හා ඒවා නිර්මාණශීලී ව සකස් කිරීම පිළිබඳ ව මව උනන්දුවක් දක්වයි.

(i) විදුරගේ මනා පෝෂණ තත්ත්වය නිර්ණය කෙරෙන සාධක මොනවා ද?

(ii) විදුර තුළ ඉහත දැක්වූ හැසිරීම් ඇතිවීමට හේතු විය හැකි කරුණු සාකච්ඡා කරන්න.

(iii) ආහාර වේල් සැලසුම් කිරීමේ දී හා සකස් කිරීමේ දී විදුරගේ පෝෂණ අවශ්‍යතා ඉටු කිරීම සඳහා මව සැලකිල්ලට ගෙන ඇති ක්‍රියාමාර්ග පහදන්න.

(iv) මුල් ළමාවිය සංවර්ධන මධ්‍යස්ථානයක භෞතික සංවිධානය කෙසේ විය යුතු ද?

(v) මාස පහක් වන ළදරුවාට මව්කිරි පමණක් දීමේ වැදගත්කම විමසන්න.

**6.** පහත සඳහන් දෑ සාකච්ඡා කරන්න.

(i) දරුවන්ගේ භාෂා වර්ධනය සඳහා මුල් ළමාවිය සංවර්ධන මධ්‍යස්ථානයක කරනු ලබන ක්‍රියාකාරකම්

(ii) ක්‍රීඩා භාණ්ඩ තෝරා ගැනීමේ දී දරුවකුගේ වයස පිළිබඳ ව සැලකිලිමත් වීම

(iii) යොවුන් දරුවා යහපත් පුරවැසියකු බවට පත් කිරීමෙහිලා පාසලෙහි කාර්යභාරය

(iv) ඒකාධිපති පවුල් පරිසරය තුළ වැඩෙන දරුවා

[ තුන්වැනි පිටුව බලන්න.

**7.** (i) පරිභෝජනය කරනු ලබන ආහාරවල අඩංගු පෝෂක සිරුරට උපයෝගී කර ගැනීමේ දී සිරුර තුළ සිදුවන ක්‍රියාවලි තුනක් වේ.

(*a*) එම ක්‍රියාවලි නම් කරන්න.

(*b*) මින් එක් ක්‍රියාවලියක් හඳුන්වන්න.

(ii) (*a*) ධාන්‍ය හා මාෂබෝගවල පෝෂණමය අගය විස්තර කරන්න.

(*b*) කිරි පැස්ටරීකරණය සහ ජීවානුහරණය සංසන්දනය කරන්න.

(iii) පහත සඳහන් ආහාර වර්ග සකස් කිරීමේ දී බිත්තරවලින් ඉටු කෙරෙන කාර්ය පැහැදිලි කරන්න.

(*a*) කේක්

(*b*) කස්ටඩ්

(*c*) පැන් කේක්

**8.** (i) (*a*) ජීවන චක්‍රය තුළ දෛනිකව වැඩි ශක්ති ප්‍රමාණයක් අවශ්‍ය වන අවධි **තුනක්** සඳහන් කරන්න.

(*b*) ඒ එකිනෙක අවධි සඳහා වැඩි ශක්ති ප්‍රමාණයක් අවශ්‍ය වීමට හේතු දක්වන්න.

(ii) ආමාශයික ප්‍රදාහය සහ දියවැඩියාව ශ්‍රී ලංකාවේ බහුලව දක්නට ලැබෙන බෝ නොවන රෝග දෙකකි. පුද්ගලයකුගේ ආහාර පරිභෝජන රටාව මෙම රෝග කෙරෙහි බලපාන අයුරු විමසන්න.

(iii) පහත දක්වා ඇත්තේ පරිරක්ෂිත ආහාර වර්ග කිහිපයකි.

(*a*) මුදවාපු කිරි

(*b*) අච්චාරු

(*c*) අලදෝසි

(*d*) අටුකොස්

ඉහත සඳහන් එක් එක් ආහාරය සැකසීමේ ක්‍රියාවලියේ දී අනුගමනය කරන පියවර එම ආහාර පරිරක්ෂණය සඳහා, ඉවහල් වන අයුරු පැහැදිලි කරන්න.

**9.** (i) සාකච්ඡා කරන්න.

(*a*) ශ්‍රී ලංකාවේ පෝෂණ ගැටලු ඇතිවීම කෙරෙහි බලපාන සමාජ ආර්ථික සාධක

(*b*) දරුවන්ගේ පෝෂණ මට්ටම නංවාලීම සඳහා පාසල් මට්ටමින් ගෙන ඇති ක්‍රියාමාර්ග

(ii) පැහැදිලි කරන්න.

(*a*) ගර්භිණී අවධියේ අවදානම් සාධක

(*b*) පසු ළමාවියෙහි දරුවන්ගේ කායික වර්ධනය සඳහා බලපාන කරුණු

* * *